AL/2021(2022)/41/S-I





අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021 (2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021 (2022)

බුද්ධ ධර්මය I
பௌத்தம் I
Buddhism I

41 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

**උපදෙස්:**
- **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
- උත්තර පත්‍රයේ, පිටුපස දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
- **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ම ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (X) **යොදා දක්වන්න.**
- එක් ප්‍රශ්නයකට ලකුණු **02** බැගින් මුළු ලකුණු **100** යි.

**1.** බුදුරජාණන් වහන්සේට සමකාලීන වූ මහණ බමුණන් කිසිවෙකුත් නොලද, බුදුරදුන්ටම සුවිශේෂ වූ ඤාණාධිගමයක් වන්නේ,

(1) චේතොපරිය ඤාණයයි.
(2) සුතමය ඤාණයයි.
(3) ආසවක්ඛය ඤාණයයි.
(4) නෙවසඤ්ඤානාසඤ්ඤායතනයයි.
(5) දිබ්බචක්ඛු ඤාණයයි.

**2.** 'බෞද්ධයන් වශයෙන් අපට ඇති ලොකුම ආඩම්බරය නම් අපගේ ශාස්තෘවරයා ඉතිහාසයක් නැති දෙවියෙකු නොවී ඉතිහාසයක් ඇති මනුෂ්‍යයෙකු වීමයි.' එසේ බුදුරදුන්ගේ ඓතිහාසිකත්වය පිළිබඳ තොරතුරු දක්නට ලැබෙන මූලාශ්‍රයක් වන්නේ,

(1) සමන්තපාසාදිකාවයි.
(2) පාරාජිකපාළියයි.
(3) බුද්ධවංශයයි.
(4) චුල්ලවග්ගපාළියයි.
(5) පුද්ගලපඤ්ඤත්තිප්පකරණයයි.

**3.** මහාසීහනාද සූත්‍රයෙහි සඳහන් පරිදි බුදුරජාණන් වහන්සේගේ සුවිශේෂ ඤාණබල දහයෙන් එකක් වන්නේ,

(1) අනාවරණ ඤාණයයි.
(2) ඉද්ධිවිධ ඤාණයයි.
(3) සබ්බඤ්ඤුත ඤාණයයි.
(4) යමකපාටිහාරිය ඤාණයයි.
(5) නානාධිමුත්තිකතා ඤාණයයි.

**4.** සූත්‍රාගත තොරතුරු අනුව බුදුරජාණන් වහන්සේ අන්‍යාගමික ආශ්‍රමයකට වැඩම කර ධර්ම සාකච්ඡාවක් පැවැත් වූ අවස්ථාවක් නම්,

(1) මහාවීර නිගණ්ඨනාතපුත්ත හමුවීමට වැඩම කිරීමයි.
(2) උරුවෙල් කාශ්‍යපතුමාගේ අසපුවට වැඩම කිරීමයි.
(3) සංජය බෙල්ලට්ඨිපුත්ත හමුවට වැඩම කිරීමයි.
(4) සකුළුදායී පිරිවැජියා හමු වූ අවස්ථාවයි.
(5) උපක ආජීවකයා හමුවීමයි.

**5.** අටලෝ දහමට අකම්පිතව මුහුණදීමෙන් ප්‍රකටවන උදාර බුදුගුණය වන්නේ,

(1) පුරිසදම්මසාරථී ගුණයයි.
(2) තාදී ගුණයයි.
(3) පද්මාකාර ජීවිතයයි.
(4) සමානාත්මතා ගුණයයි.
(5) යථාවාදී තථාකාරී ගුණයයි.

**6.** පහත සඳහන් ග්‍රන්ථ අතුරෙන් අභිධර්ම පිටකයට අයත් **නොවන්නේ,**

(1) විභංගප්පකරණයයි.
(2) පුද්ගලපඤ්ඤත්තිප්පකරණයයි.
(3) පට්ඨානප්පකරණයයි.
(4) නෙත්තිප්පකරණයයි.
(5) ධම්මසංගණීප්පකරණයයි.

**7.** ධර්ම රත්නයෙහි ගුණ සයක් දැක්වෙන පාඨයෙහි 'අකාලික' යන්නෙන් පෙන්වා දෙන්නේ,
(1) ධර්මය උපමානුසාරීව දැක්විය හැකි බව ය.
(2) බුදුදහම හුදෙක් න්‍යායාත්මක බවටම වහල් නොවන බව ය.
(3) කල් නොයවා ප්‍රතිඵල අත්දැකිය හැකි බව ය.
(4) සාන්දෘෂ්ටික වශයෙන් ම ප්‍රතිඵල උදාකරන බව ය.
(5) තම තම නැණ පමණින් දත යුතු බව ය.

**8.** 'බුදුදහම සදාකාලික හෝ තාවකාලික හෝ ආත්මයක් ඇත' යන්න නොපිළිගන්නා දහමකි. ඒ අනුව සමකාලීන ආත්ම සංකල්පය විචාරයට ලක්කරමින් බුදුරදුන් දේශනා කර ඇත්තේ,
(1) ආත්මයක් ඇත්නම් එය අපට අවනත විය යුතු බව ය.
(2) භවගාමී ආත්මය නිවන් දක්නා තෙක් පමණක් පවත්නා බව ය.
(3) රූප වේදනාදී ස්කන්ධ ධර්මයන්ට පරිබාහිර වූ ආත්මයක් ඇති බව ය.
(4) කුසලාකුසල කර්ම කරන හා විපාක විඳින ආත්මයක් පමණක් පවත්නා බව ය.
(5) සියල්ල මරණින් නිමවන බැවින් සදාකාලික ආත්මයක් නැති බව ය.

**9.** විමසන සුළු භික්ෂුව විසින් තථාගතයන් වහන්සේ පිළිබඳ කරුණු දෙකක් විමසීමට ලක් කළ යුතු යැයි වීමංසක සූත්‍රය උගන්වයි. එම කරුණු දෙක වන්නේ,
(1) කරුණාව හා ප්‍රඥාවයි.
(2) කාය සමාචාරය හා වාග් සමාචාරයයි.
(3) අතීත පැවැත්ම හා අනාගත පැවැත්මයි.
(4) සිදුකර ඇති කුසලකර්ම හා අකුසලකර්මයි.
(5) වදාළ ධර්මය හා නොවදාළ ධර්මයයි.

**10.** ජාති, ජරා, ව්‍යාධි, මරණාදී දුක්ඛ දොමනස්සයන්ගෙන් මිදී විමුක්තිය ලබනු පිණිස බුදුරදුන් උගන්වා ඇති ඒකායන මාර්ගයේ සුවිශේෂ ලක්ෂණයක් වන්නේ,
(1) නිතර පින්දහම් කිරීමට ඉගැන්වීමයි.
(2) සියලු දේව විශ්වාස පිටු දැකීමයි.
(3) අනුපූර්ව ප්‍රතිපදාවක් වෙත යොමු කිරීමයි.
(4) අබෞද්ධ විමුක්ති මාර්ගවලට එරෙහි වීමයි.
(5) වන්දනාමාන ප්‍රතික්ෂේප කිරීමයි.

**11.** බුද්ධකාලීන අබෞද්ධ ශ්‍රමණ කොටස්වලට මෙන්ම බෞද්ධ භික්ෂු සමාජයට ද පොදු වූ ලක්ෂණයක් ලෙස හඳුනාගත හැක්කේ,
(1) ආත්මවාදී නොවීමයි.
(2) අත්තකිලමථානුයෝගයට නොවැටීමයි.
(3) වර්ණශ්‍රාමධර්ම පිළිගැනීමයි.
(4) අනගාරික ජීවිත ගත කිරීමයි.
(5) කර්ම ඵල විශ්වාසයයි.

**12.** "කාය පරිහරණයට අවශ්‍ය සිවුරින් හා කුස පරිහරණයට ප්‍රමාණවත් පිණ්ඩපාතයෙන් සෑහීමට පත්වීම, යම් තැනෙක චාරිකාවෙහි යෙදේ ද සිවුරු පිරිකර පමණක් රැගෙන පියාපත් බර පමණක් ඇති පක්ෂියෙකු මෙන් ක්‍රියා කිරීම." ඉහත සඳහන් පාඨයෙන් කියැවෙන බෞද්ධ පැවිදි ජීවිතයේ සුවිශේෂ ලක්ෂණය වන්නේ
(1) පිරිසිදු බඹසරයි.
(2) පරාර්ථ සේවයට කැපවීමයි.
(3) අල්පේච්ඡ ජීවිතයයි.
(4) ප්‍රාතිමෝක්ෂය ආරක්ෂා කිරීමයි.
(5) ගුරුවරයා අනුගමනය කිරීමයි.

**13.** භික්ෂු විනය අනුව සතර පාරාජිකා අතරට **නොගැනෙන** වරදක් වන්නේ,
(1) මනුෂ්‍ය ඝාතනයයි.
(2) මෛථුන සේවනයයි.
(3) අදත්තාදානයයි.
(4) මද්‍යසාර භාවිතයයි.
(5) තමා සතුව නැති උතුරු මිනිස් දම් ඇතැයි ප්‍රකාශ කිරීමයි.

**14.** මහ සඟරුවනේ නව වැදැරුම් ගුණ අතර 'ආහුනෙය්‍යො' යන්නෙන් කියැවෙන්නේ,
(1) ගිහි ජනතාව කෙරෙහි කාරුණිකව කටයුතු කරන බව ය.
(2) දුරසිට ගෙනෙන ලද සිවුපසය පිළිගැනීමට සුදුසු බව ය.
(3) ඥාතීන් උදෙසා පිළියෙල කළ ප්‍රත්‍ය වුව ද පිරිනැමීමට සුදුසු බව ය.
(4) සසුන් මගට මනාකොට පිළිපන් බව ය.
(5) දක්ෂිණාව පිළිගැන්මට යෝග්‍ය බව ය.

[තුන්වැනි පිටුව බලන්න.

**15.** බෞද්ධ භික්ෂුවගේ බ්‍රහ්මචාරී ජීවිතයෙහි සුවිශේෂ ලක්ෂණයක් ලෙස දැක්විය හැක්කේ,
(1) ගිහි සමාජයෙන් සපුරා ඉවත්වීම ය.
(2) දිවි ඇතිතාක් මෛථුන සේවනයෙන් වැළකී සිටීම ය.
(3) බඹ ලොව උපත ලැබීමට උපකාරීවන පිළිවෙත් රැකීම ය.
(4) හිස මුඩු කිරීම ය.
(5) පිණ්ඩපාතයෙන් ම යැපීම ය.

**16.** බ්‍රාහ්මණ ඉගැන්වීම් අනුව ඇතැම් විට ස්වධර්ම න්‍යාය වෙනස් වූ අතර එහිදී ක්ෂත්‍රියයන්ට අයත් කටයුතු බ්‍රාහ්මණයන්ට ද පැවරිණි. එසේ වූයේ,
(1) ක්ෂත්‍රියයන් තම කටයුතු නිසි ලෙස නොකරන විට ය.
(2) බ්‍රාහ්මණයන්ගේ අයිතිවාසිකම් පාලක පක්ෂය විසින් ලබානොදෙන කල්හි ය.
(3) ආපදාපන්න අවස්ථාවක ය.
(4) ක්ෂත්‍රියයන් බ්‍රාහ්මණයන්ගේ උපදෙස් පිළිනොගත් විට ය.
(5) බ්‍රාහ්මණයන් පාලන බලය ඉල්ලා සිටි අවස්ථාවක ය.

**17.** බුද්ධකාලීන චින්තකයන් අතර අමරාවික්ෂේප වාදය ඉගැන්වූයේ,
(1) සංජය බෙල්ලට්ඨිපුත්ත විසිනි.
(2) සච්චක පඬිවරයා විසිනි.
(3) ජම්බුක ආජීවක විසිනි.
(4) පූර්ණ කස්සප විසිනි.
(5) තේවිජ්ජ බ්‍රාහ්මණයා විසිනි.

**18.** බුද්ධ කාලීන සාමයික මතවාද අතර අධිච්චසමුප්පන්න වාදයෙන් ප්‍රකාශ වන්නේ,
(1) අධිභෞතික බලවේග විසින් සියල්ල සිදුකෙරෙන බවයි.
(2) අසීමිත ආශාවන් ඉටුකරගත හැකි ඉගැන්වීම යන්නයි.
(3) උසස් ඉච්ඡාවන් හෙවත් අපේක්ෂාවන් වෙත ම ගමන් කළ යුතු බවයි.
(4) අධිමානසික ශක්තිය සියලු අරමුණු ඉටුකර දෙන්නේ ය යන්නයි.
(5) සියල්ල සිදුවන්නේ හේතුප්‍රත්‍යයන්ගෙන් තොරව බවයි.

**19.** යම් තැනැත්තෙකු සැපතක් හෝ දුකක් හෝ සුවදුක් දෙකම හෝ නැති යම් විඳීමක් විඳින්නේ ද එය පෙරකළ කර්මය අනුව ම වේ යැයි පිළිගන්නා ලද්දේ,
(1) අකිරියවාදීන් විසිනි.
(2) නියතිවාදීන් විසිනි.
(3) පුබ්බේකත හේතුවාදීන් විසිනි.
(4) ලෝකායතවාදීන් විසිනි.
(5) සප්තපදාර්ථවාදීන් විසිනි.

**20.** සමාජ පරිණාමය පිළිබඳ බෞද්ධ ඉගැන්වීම් අනුව මුල් යුගයේ පැවති පොදු පරිභෝග ක්‍රමය සංකීර්ණත්වයට පත්වීම ඇරඹෙන්නේ,
(1) රස පොළොව අතුරුදහන් වී බිම් හතු අනුභව කළ තැන් සිට ය.
(2) බිම් හතු අතුරුදහන් වී උපන් ඇල් සහල් රැස් කොට ගෙන පරිභෝග කළ තැන් සිට ය.
(3) රස පොළොවට ලොල්ව එය අනුභව කළ තැන් සිට ය.
(4) සමාජය තුළ පවුල් සංස්ථාව උපන් තැන් සිට ය.
(5) රජකම හා රාජ්‍ය පාලනය බිහි වූ අවස්ථාවේ සිට ය.

**21.** බුදුරජාණන් වහන්සේ විසින් පාමොක් උදෙසා විනය නීති පනවන ලද්දේ මූලික අරමුණු දහයක් පෙරදැරි කරගෙන යැයි පාරාජිකපාළිය සඳහන් කරන අතර ඉන් එකක් නම්,
(1) භික්ෂු සමාජය ආරම්භ වී දිගු කලක් ගතවීමයි.
(2) පෙර බුදුවරයන් වහන්සේලා විසින් ද විනය නීති පනවා තිබීමයි.
(3) භික්ෂූන් පාලනය කරගැනීමට පහසු වීමයි.
(4) නොදැමුණු පුද්ගලයන් දමනය කිරීමයි.
(5) භික්ෂූන් අතර උගතුන් බහුල වීමයි.

**22.** විශේෂඥභාවයෙන් හා විවිධ හැකියාවන්ගෙන් ද යුත් ශ්‍රාවකයන් බුදුරදුන් විසින් අගතනතුරුවලට පත්කරන ලද අතර අනුරුද්ධ තෙරුන් වහන්සේ පත්කරන ලද්දේ,
(1) දිවැස් ඇත්තවුන් අතර අගතනතුරටයි.
(2) ධූතාංගධාරීන් අතර අගතනතුරටයි.
(3) ශ්‍රද්ධාවෙන් පැවිදි වූවන් අතර අගතනතුරටයි.
(4) වීර්යය ඇත්තවුන් අතර අගතනතුරටයි.
(5) ධර්මකථික භික්ෂූන් අතර අගතනතුරටයි.

**23.** බුදුරජාණන් වහන්සේ විසින් ධර්ම කථික භික්ෂුණීන් අතර අග්‍රස්ථානයට පත් කළ භික්ෂුණිය වන්නේ,
(1) මහා ප්‍රජාපතී ගෝතමී තෙරණියයි. (2) ඛේමා තෙරණියයි.
(3) භද්දකච්චානා තෙරණියයි. (4) ධම්මදින්නා තෙරණියයි.
(5) නන්දා තෙරණියයි.

**24.** දෙවන ධර්ම සංගීතියට තුඩුදුන් ශාසනික පසුබිම දැක්වීමේ දී ඇතැම් බෞද්ධ මූලාශ්‍රය දක්වන මහාදේව නම් හිමිනමක ඉදිරිපත් කළ පංච වස්තුවෙන් එකක් නම්,
(1) රන් රිදී ආදිය පිළිගැනීම කැපය යන්නයි.
(2) රහතුන් වහන්සේට සැක තිබිය හැකිය යන්නයි.
(3) ධර්මය නොදැන වුව ද රහත් විය හැකිය යන්නයි.
(4) රහතුන් වහන්සේලා විසින් ද පින් දහම් සිදුකළ යුතු ය යන්නයි.
(5) බුදුවරු තව්තිසාවෙහි වැඩසිටිති යන්නයි.

**25.** තෙවන ධර්ම සංගායනාවේ ප්‍රතිඵලයක් ලෙස දැක්විය හැක්කේ,
(1) භාණක සම්ප්‍රදාය ඇතිවීමයි.
(2) නිකාය භේදයට මුල පිරීමයි.
(3) කථාවත්ථුප්පකරණය සම්පාදනය කිරීමයි.
(4) ඛුද්‍ධා අනුඛුද්‍ධා ශික්ෂාපද පිළිබඳ ප්‍රශ්නය යටපත් වීමයි.
(5) මහායාන බුදුදහම උදාවීමයි.

**26.** බුදු දහමෙහි ඉගැන්වෙන පඤ්චස්කන්ධයෙහි විඤ්ඤාණ ස්කන්ධය යන්නෙන් කියැවෙන්නේ,
(1) නිවැරදි අවබෝධයයි.
(2) සැපදුක් ආදී වින්දනයන් ය.
(3) ඉන්ද්‍රිය හා අරමුණු ආශ්‍රිත සවැදෑරුම් ඥාණයයි.
(4) බාහිර ලෝකය පිළිබඳව ඇති මතක ශක්තියයි.
(5) රූප ශබ්දාදිය පිළිබඳ උපදනා හැඟීම් ය.

**27.** දුක පිළිබඳ ත්‍රිවිධ ප්‍රභේදයෙහි ඇතුළත් විපරිණාම දුක්ඛ යනු,
(1) සංස්කාර ධර්ම පිළිබඳ දුක ය. (2) කැමති දේ නොලැබීමේ දුක ය.
(3) සිතෙහි උපදනා දොම්නස් ය. (4) වෙනස්වීම පිළිබඳ දුක ය.
(5) රූපාදී අරමුණු හා බැඳුණු අසහනයයි.

**28.** සූත්‍රාන්ත ධර්මයන් අතර ත්‍රිලක්ෂණය සවිස්තරව පැහැදිලි කර ඇති දේශනාවක් වන්නේ,
(1) ධම්මික සූත්‍රයයි. (2) මෙත්තානිසංස සූත්‍රයයි.
(3) පරාභව සූත්‍රයයි. (4) පත්තකම්ම සූත්‍රයයි.
(5) චූළසච්චක සූත්‍රයයි.

**29.** භෞතික පරිසරය මනාව සංරක්ෂණය කිරීම සඳහා බෞද්ධයන් වන අප විසින් කළ යුතු සත් කාර්යයක් ලෙස හඳුනාගත හැක්කේ,
(1) වෙහෙර විහාරාදිය ඉදිකිරීමට ගංගාධාර යොදා ගැනීම ය.
(2) කිසිදු හේතුවක් නිසා ගසක් නොකැපීම ය.
(3) අසන්නාගේ පහසුව සළකා උස් හඬින් කතා කිරීම ය.
(4) කුණු රොඩු, මල මුත්‍රාදිය තිල්තණ මත නොදැමීම ය.
(5) කිසිවිටෙකත් පොළොව නොබිඳීම ය.

**30.** යහපත් අඹුසැමි සබඳතාවක් පවත්වාගෙන යාම පිණිස සැමියා විසින් බිරිඳට කළයුතු සංග්‍රහයක් වන්නේ,
(1) ගරු සැලකිලි කිරීමයි. (2) බිරිඳගේ පිරිසට සංග්‍රහ කිරීමයි.
(3) සමානාත්වයෙන් කටයුතු කිරීමයි. (4) පුත්‍රදාරාදීන් රැකබලා ගැනීමට අනුග්‍රහ කිරීමයි.
(5) ආගමික කටයුතුවලට බිරිඳ පෙළඹවීමයි.

**31.** සැරියුත් මාහිමියන් වදාළ සච්චවිභංග සූත්‍රය අනුව සම්මා සංකප්ප යනු,
(1) දානමය, සීලමය හා භාවනාමය සංකල්පයන් ය.
(2) අලෝභ, අදෝස හා අමෝහ සංකල්පයන් ය.
(3) නෙක්ඛම්ම, අව්‍යාපාද හා අවිහිංසා සංකල්පයන් ය.
(4) සීල, සමාධි හා පඤ්ඤා සංකල්පයන් ය.
(5) අනිච්ච, දුක්ඛ හා අනත්ත සංකල්පයන් ය.

**32.** පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් නිවන හැඳින්වීමට යොදාගත හැක්කේ,
(1) තණ්හාව සම්පූර්ණයෙන් නැති කිරීම, යන්නයි.
(2) පින් දහම් කිරීමෙන් ලැබෙන උසස් ම ප්‍රතිඵලය, යන්නයි.
(3) සීල සමාදානයෙහි ආනිසංසය වේ, යන්නයි.
(4) පෙරුම් පිරීමෙන් ලබාගත හැකි විමුක්තිය, යන්නයි.
(5) පරලොව වශයෙන් ලබාගත හැකි උතුම් සැපත, යන්නයි.

**33.** බුද්ධ කාලීන ආගමික ප්‍රතිපදා අතර අත්තකිලමථානුයෝගය අනුගමනය කරන ලද්දේ,
(1) වෛදික බ්‍රාහ්මණ සමාජය විසිනි. (2) ජෛන නිගණ්ඨයන් විසිනි.
(3) අමරාවික්ඛේපවාදීන් විසිනි. (4) චාර්වාක චින්තකයන් විසිනි.
(5) උච්ඡේදවාදීන් විසිනි.

**34.** බුද්ධකාලීන භාරතීය මහණ බමුණන් අතර පැවති ශාස්වත දෘෂ්ටිය බුදුසමය විසින් පසෙකින් තබන ලද්දේ,
(1) එම දෘෂ්ටිවාදීන් පරලොවක් නොපිළිගත් නිසා ය.
(2) ඔවුන් කාමසුඛල්ලිකානුයෝගයට නැඹුරුව සිටි නිසා ය.
(3) එම දෘෂ්ටිය අනුව ආත්මයේ පැවැත්ම සපුරා බැහැර කළ නිසා ය.
(4) එම දෘෂ්ටි ගතිකයන් විසින් කර්ම විපාක ප්‍රතික්ෂේප කළ නිසා ය.
(5) එය දුකින් මිදීමට උපකාරී නොවන නිසා ය.

**35.** බුදුදහම අනුව සංස්ථාගත දුක හටගන්නේ සමාජය තුළ ආර්ථික, දේශපාලන, සදාචාරමය ආදී විවිධ ගැටලු මුහුකුරා යාමෙනි. චක්කවත්තිසීහනාද සූත්‍රයෙන් හඳුනාගත හැකි එබඳු ගැටලුවක් වන්නේ,
(1) නුගත්කමයි. (2) ජනගහන වර්ධනයයි.
(3) අකාර්යක්ෂම රාජ්‍ය පාලනයයි. (4) රෝග පීඩාදිය පැතිරයාමයි.
(5) කුලභේදයයි.

**36.** හොඳ-නරක පුද්ගල චර්යාවන් දැක්වීමට බුද්ධ දේශනාවල භාවිත වන ව්‍යවහාරයක් වන්නේ,
(1) ලෝක-ලෝකුත්තර යන්නයි. (2) සංඛත-අසංඛත යන්නයි.
(3) කාල-අකාල යන්නයි. (4) සාධු-අසාධු යන්නයි.
(5) සුගති-දුගති යන්නයි.

**37.** පුද්ගලයා විසින් නැවත නැවතත් කළ යුතු කුසල කර්ම සහ පුණ්‍ය කර්ම බුදුදහමෙහි දැක්වෙයි. ඒ අතුරෙන් කුසල කර්මයක් වන්නේ,
(1) පින් අනුමෝදන් වීමයි. (2) වතාවත් කිරීමයි.
(3) වැඩිහිටියන්ට සැලකීමයි. (4) දන්දීමයි.
(5) දැඩි ලෝභයෙන් තොරවීමයි.

**38.** ගෘහස්ථ ජීවිත ගතකරන බෞද්ධයන්ට අදාළ පන්සිල්වලට වඩා අටසිල් උසස් යැයි සැළකෙන්නේ එමගින්,
(1) ප්‍රාණඝාතාදි පව්න් වැළකීම සිදුවන බැවිනි. (2) සමාජ හිතකාමියෙකු බිහිවන බැවිනි.
(3) නිසැකවම නිවනට ලඟාවිය හැකි බැවිනි. (4) අපිස් පැවැත්ම ප්‍රගුණ කරවන බැවිනි.
(5) ධ්‍යාන අභිඥාදිය ලබාගත හැකි බැවිනි.

**39.** ශ්‍රද්ධාව පිළිබඳ විවිධ බෞද්ධ හැඳින්වීම් අතුරෙන් එකක් වන්නේ,
(1) දෙව්ලොවට ඉනිමගකි යන්නයි. (2) බ්‍රහ්ම විහරණයකි යන්නයි.
(3) රෝපණය කළ යුතු බීජයකි යන්නයි. (4) බෞද්ධයෙකුට ප්‍රදීපයකි යන්නයි.
(5) පින්කිරියවතකි යන්නයි.

**40.** කර්මය පිළිබඳ බුද්ධ කාලීනව පිළිගත් විවිධ මතවාද අතර බුදුසමයට එකඟ **නොවන** මතවාදයක් වන්නේ,
(1) කර්මය කරන හා විඳින පුද්ගලයෙකු නැත යන්නයි.
(2) මනෝ කර්මයට වඩා කාය කර්මය බලවත් වේ යන්නයි.
(3) රහත්බවට පත් වූ විට පූර්ව කර්ම අහෝසි වේ යන්නයි.
(4) කර්මක්ෂය කිරීමෙන් විමුක්තිය ලැබේ යන්නයි.
(5) අල්පමාත්‍ර වූ පුණ්‍යකර්මයකින් හෝ රහතුන්ට ප්‍රයෝජනයක් නැත යන්නයි.

**41.** ගිහියෙකු විසින් උපයාගත් ධනය පරිහරණය කිරීමට අදාළව පත්තකම්ම සූත්‍රයෙහි සඳහන් උපදේශයක් වන්නේ,
(1) පඤ්චබලී ඉටු කිරීමයි.
(2) ඉපයූ ධනයෙහි ගිජුබවින් තොරවීමයි.
(3) ධනය සිවුකොටසකට බෙදා පරිහරණය කිරීමයි.
(4) ධනය උවදුරුවලින් රැකගැනීමයි.
(5) අධිපරිභෝජනයෙන් තොරවීමයි.

**42.** රජය අනුමත නොකළ හොර තරාදියෙන් කිරා වෙළඳාම් කිරීම වරදක් බව දැක්වෙන බුද්ධ දේශනාව ඇතුළත් වන්නේ,
(1) සිගාලෝවාද සූත්‍රයේ ය.
(2) ව්‍යග්ඝපජ්ජ සූත්‍රයේ ය.
(3) ධම්මික සූත්‍රයේ ය.
(4) රාසිය සූත්‍රයේ ය.
(5) බ්‍රහ්මජාල සූත්‍රයේ ය.

**43.** දසරාජ ධර්මයෙහි තපස යන්නෙන් අදහස් කරන්නේ,
(1) රජු මහලු වියේ දී තවුසෙකු විය යුතු බවයි.
(2) සිය රාජ්‍යයේ තවුසන්ට අනුග්‍රහ දැක්විය යුතු බවයි.
(3) ප්‍රතිපත්තිගරුක වියයුතු බවයි.
(4) ඉන්ද්‍රිය සංවරයෙන් යුක්ත විය යුතු බවයි.
(5) ඡන්දයෙන් අගතියට නොයායුතු බවයි.

**44.** චක්කානුවත්තන සූත්‍රයට අනුව සක්විති රජු විශිෂ්ට වූ ගුණාංග පහකින් යුක්තවිය යුතු ය. ඉන් එකක් වන්නේ,
(1) සිල්වතෙකු වීමයි.
(2) නිර්ධනයන්ට සේවය කිරීමයි.
(3) මහණ බමුණන්ගේ උපදෙස් පැතීමයි.
(4) ගොවියන්ට පහසුකම් සැළසීමයි.
(5) කාලානුරූපව කටයුතු කිරීමයි.

**45.** "ධම්මෙන පරෙ රඤ්ජේතීති ඛො වාසෙට්ඨා, රාජා" යන අග්ගඤ්ඤ සූත්‍රාගත ප්‍රකාශයෙහි අර්ථය නම්,
(1) රජු දැහැමින් රාජ්‍ය පාලනය කළ යුතු බවයි.
(2) සිල්වත් විය යුතු බවයි.
(3) අගතිගාමී නොවිය යුතු බවයි.
(4) ආගමික ස්ථානවලට පූජා පැවැත්විය යුතු බවයි.
(5) ජනතාවට හිංසා නොකළ යුතු බවයි.

**46.** සමථ හා විපස්සනා යැයි දෙයාකාර වන බෞද්ධ භාවනාවෙහි විපස්සනා යනු,
(1) පඤ්චනීවරණ යටපත් කිරීමයි.
(2) ලෞකික අභිඥා ලැබිය හැකි භාවනාවයි.
(3) ත්‍රිලක්ෂණය වැඩීමයි.
(4) බුද්ධ කාලීන මහණ බමුණන් වැඩූ භාවනාවකි.
(5) චිත්ත ඒකාග්‍රතාව උපදවා ගැනීමයි.

**47.** සතර සතිපට්ඨාන ධර්ම අතර චිත්තානුපස්සනාවට ඇතුළත් කරුණක් වන්නේ,
(1) අනුන්ගේ සිත් හසර දැනගැනීම ය.
(2) පඤ්චනීවරණ තමා තුළ ඇති නැති බව දැන ගැනීම ය.
(3) සියල්ල චිත්ත නියාමයට යටත් බව මෙනෙහි කිරීම ය.
(4) රාග සහිත සිත රාග සහිත යැයි දැනගැනීම ය.
(5) සුඛ දුක්ඛාදී වින්දන තේරුම් ගැනීම ය.

**48.** සමථ භාවනාවට එළඹෙන යෝගාවචරයාට අදාළ කර්මස්ථාන හතළිහක් විසුද්ධි මාර්ගයෙහි දැක්වේ. ඉන් එකක් නම්,
(1) දේවතානුස්සතියයි.
(2) දානානුස්සතියයි.
(3) කම්මානුස්සතියයි.
(4) චිත්තානුස්සතියයි.
(5) වේදනානුස්සතියයි.

**49.** භාවනා කිරීමට කමටහන් ලබාදෙන ගුරුවරයා සතුව පැවතිය යුතු ගුණාංගයක් වන්නේ,
(1) වැඩිහිටියෙකු වීම ය.
(2) මනා නුවණැත්තෙකු වීම ය.
(3) සැදැහැවතෙකු වීම ය.
(4) පරිත්‍යාගශීලියෙකු වීම ය.
(5) වරදට අවවාද කරන සුළු අයෙකු වීම ය.

**50.** මෛත්‍රී භාවනාව වඩන්නෙකුට පරලොව වශයෙන් ලැබෙන ආනිසංසය වන්නේ,
(1) නොමුලාව කලුරිය කිරීමයි.
(2) මරණින් මතු බඹලොව උපත ලැබීමයි.
(3) ධනධාන්‍යාදී සැප සම්පත් ලැබීමයි.
(4) උසස් ප්‍රඥාවන්තයෙකු වීමයි.
(5) රුවින් අගතැන්පත් වීමයි.

***

4626





අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021 (2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021 (2022)

බුද්ධ ධර්මය II
பௌத்தம் II
Buddhism II

41 S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

| | |
|---|---|
| අමතර කියවීම් කාලය | - මිනිත්තු 10 යි |
| மேலதிக வாசிப்பு நேரம் | - 10 நிமிடங்கள் |
| Additional Reading Time | - 10 minutes |

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**උපදෙස්:**
* **I** කොටසින් ප්‍රශ්න **දෙකක්** ද **II** කොටසින් ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

## I කොටස

**1.** (i) 'විජ්ජාචරණ සම්පන්න' බුදුගුණයට අර්ථ දක්වන්න. (ලකුණු 02යි.)
(ii) 'මහාකරුණාව' නිර්වචනය කරන්න. (ලකුණු 04යි.)
(iii) බුදුරදුන් තුළ පැවති විශිෂ්ට නායකත්ව ගුණාංග අතුරෙන් **දෙකක්** පැහැදිලි කරන්න. (ලකුණු 06යි.)
(iv) පොට්ඨපාද පරිබ්‍රාජකයා විසින් බුදුරදුන් ඇගයුමට ලක්කළ ආකාරය විමසන්න. (ලකුණු 08යි.)

**2.** (i) සුත්ත, විභඞ්ග, ඛන්ධක, පරිවාර යනුවෙන් බෙදා දක්වන පිටකය කුමක්ද? (ලකුණු 02යි.)
(ii) 'ඒහිපස්සික' දහම් ගුණය හඳුන්වා දෙන්න. (ලකුණු 04යි.)
(iii) 'බුදුදහම නිත්‍යාත්ම සංකල්පය පසෙකින් තබයි.' පැහැදිලි කරන්න. (ලකුණු 06යි.)
(iv) ප්‍රායෝගික ජීවන දර්ශනයක් ලෙස බුදුදහම ඇගයුමට ලක් කරන්න. (ලකුණු 08යි.)

**3.** (i) වෛදික බ්‍රාහ්මණයන්ගේ ස්වර්ග පරායන මාර්ගය නම් කරන්න. (ලකුණු 02යි.)
(ii) නියතිවාදය හඳුන්වන්න. (ලකුණු 04යි.)
(iii) අකිරියවාදය පිළිබඳ බෞද්ධ විචාරය පැහැදිලි කරන්න. (ලකුණු 06යි.)
(iv) අග්ගඤ්ඤ සූත්‍රයට අනුව පවුල් සංස්ථාවේ ප්‍රභවය පිළිබඳ විමසුමක් කරන්න. (ලකුණු 08යි.)

## II කොටස

**4.** (i) බුදුරජාණන් වහන්සේ විසින් සිය ශ්‍රාවකයන්ගේ දේශනා කුසලතාව අගය කළ අවස්ථාවක් පෙන්වා දෙන්න. (ලකුණු 08යි.)
(ii) බුද්ධකාලීන ගිහි ශ්‍රාවක ශ්‍රාවිකාවන් දෙදෙනෙකුගෙන් සසුනෙහි චිරපැවැත්මට ලැබුණු අනුග්‍රහය අගය කරන්න. (ලකුණු 12යි.)

**5.** (i) සත්ත්වයා හා ලෝකය පිළිබඳ බෞද්ධ විශ්ලේෂණ ක්‍රම අතුරෙන් එකක් විස්තර කරන්න. (ලකුණු 08යි.)
(ii) "විශ්ලේෂිත ධර්ම සියල්ල ත්‍රිලක්ෂණ ස්වභාවයෙන් යුක්ත ය." විමසන්න. (ලකුණු 12යි.)

**6.** (i) සසර දුක පිළිබඳ ධර්මානුකූල විවරණයක් සපයන්න. (ලකුණු 08යි.)
(ii) ප්‍රතිලෝම ප්‍රතීත්‍යසමුත්පාදයට අනුව දුක්ඛ නිරෝධය පැහැදිලි කරන්න. (ලකුණු 12යි.)

**7.** (i) 'ස්වච්ඡන්දතාව' යනු කුමක්දැයි හඳුන්වා දෙන්න. (ලකුණු 08යි.)
(ii) බෞද්ධයෙකුට ස්වච්ඡන්දතාවක් තිබිය හැකි දැයි විමසන්න. (ලකුණු 12යි.)

**8.** (i) අසුභ භාවනාව හඳුන්වා දෙන්න. (ලකුණු 08යි.)
(ii) එම භාවනාවේ අරමුණු පැහැදිලි කරන්න. (ලකුණු 12යි.)

* * *

**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021(2022)

| | | |
|---|---|---|
| **හින්දු ධර්මය I**<br>இந்து சமயம் I<br>Hinduism I | **42 S I** | *පැය දෙකයි*<br>*இரண்டு மணித்தியாலம்*<br>*Two hours* |

**උපදෙස්:**

※ **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
※ උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
※ උත්තර පත්‍රයේ පසු පිටේ දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
※ **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එහි **අංකය** උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි **කතිරයක් (X)** යොදා දක්වන්න.

- අංක **1** සිට **5** තෙක් එක් එක් ප්‍රශ්නයට අදාළව කරුණු **පහ** බැගින් දී ඇත. ඒවායින් **එකක්** කුමක් හෝ හේතුවක් නිසා අනෙකුත් ඒවා සමග නොගැළපේ. එම **නොගැළපෙන** කරුණ තෝරන්න.

**1.** (1) සුරුදි (2) අබෙලරුශේයම් (3) ආම්නායම්
(4) සුයම්බු (5) පාංඡරාත්තිරම්

**2.** (1) පට්ටිනත්තඩිහල් (2) පත්තිරකිරියාර් (3) කුදම්බෛ චිත්තර්
(4) යොහර් සුවාමිහල් (5) කඩුවෙලි චිත්තර්

**3.** (1) සරියාපාදම් (2) ප්‍රයච්චිත්ත විදි
(3) ශිවලිංග ඉලක්කනම් (4) පවිත්‍රවිදි
(5) අට්ටමාසිත්ති

**4.** (1) කාලත්ති පුරාණම් (2) හරිහරර්
(3) විරුපාට්ෂර් දේවාලය (4) තිරුකෛලාය ඥාන උලා
(5) ක්‍රිෂ්ණ දේවරායර්

**5.** (1) ආගමප් පිරියන් (2) සංකීර්ණ ජාදි (3) කුණබරන්
(4) විසිත්තිර සිත්තන් (5) මත්ත විලාසන්

- අංක **6** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නයේ **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවායින් එක් යුගලයක පද එකිනෙකට නොගැළපේ. එම **නොගැළපෙන** පද යුගලය තෝරන්න.

**6.** (1) කරගම් නැටුම - අම්මන් දෙවියන්
(2) කාවඩි නැටුම - කතරගම දෙවියන්
(3) කෝලාට්ටම් - කන්නන් දෙවියන්
(4) කම්සන් වදම් - ශිව දෙවියන්
(5) කාමන් කුත්තු - මන්මදන්

**7.** (1) විවේකානන්ද සභාව - කොළඹ
(2) රාමක්‍රිෂ්ණ මිසම - මඩකලපුව
(3) ශෛව පරිපාලන සභාව - ත්‍රිකුණාමලය
(4) අගිල ඉලංගෛ හින්දු මාමන්ඩ්‍රම් - කොළඹ
(5) ශෛව විද්‍යා විරුත්ති සංගමය - යාපනය

**8.** (1) නවනාද සිත්තර් - වෛගුන්ත සුවාමිහල්
(2) සෙල්ලප්පා සුවාමිහල් - යොගර් සුවාමිහල්
(3) වෛරමුත්තු චෙට්ටියාර් - කඩෛයිට් සුවාමිහල්
(4) කුලන්දෛවේල් සුවාමිහල් - මහාදේව සුවාමිහල්
(5) සිත්තානෛකුට්ටි සුවාමිහල් - පෙරියානෛ කුට්ටි සුවාමිහල්

[දෙවැනි පිටුව බලන්න

9. (1) ගණපති - කණ්ඩායම්වල නායකයා
(2) ලම්බෝදරර් - හොඬවැලක් ඇති දෙවියන්
(3) පිල්ලෙයාර් - ළමුන්ගේ දෙවියන්
(4) විනායගර් - තමන්ට ඉහළින් නායකයකු නොමැති දෙවියන්
(5) ගණේශන් -හිත සහ වචනයටත් ඒවා අභිභවා ගිය තත්ත්වයටත් අයත් දෙවියන්

10. (1) ධර්මම් සර - ධාර්මික මාර්ගයේ යෙදෙන්න
(2) ශත්‍යම් වද - සත්‍ය පවසන්න
(3) මාතෘ දේවෝ භව - පියාට දෙවියන් සේ සලකන්න
(4) ආචාර්ය දේවෝ භව - ඇදුරාට දෙවියන් සේ සලකන්න
(5) අදිදි දේවෝ භව - අමුත්තන් දෙවියන් සේ සලකන්න

● අංක **11** සිට **15** තෙක් එක් එක් ප්‍රශ්නයේ **අ** තීරුව සහ **ආ** තීරුව යටතේ කරුණු කිහිපයක් දී ඇත. **ආ** තීරුවේ ඒවා **අ** තීරුවට අනුව ගළපා ඇති වරණය තෝරන්න.

11.

| අ | ආ |
|---|---|
| (i) යජුර් වේදය | A - ආරියභට්ටර් |
| (ii) තාරකා විද්‍යාව | B - සදරුත්ත්‍රියම් |
| (iii) ධර්ම ශාස්ත්‍ර | C - තන්වන්දිරි |
| (iv) අතර්වණ වේදය | D - යුගධර්මය |
| (v) වෙදකම | E - ස්ත්‍රී කර්මාන්ත |

(1) B A D C E (2) B A D E C (3) D C E A B (4) E A D B C (5) E C D B A

12.

| අ | ආ |
|---|---|
| (i) තිරුවිරුත්තම් | A - වාසියෝගම් |
| (ii) සිත්තර්වරුන් | B - නම්මාල්වාර් |
| (iii) ගණපතීශ්වරම් | C - නම්බියාණ්ඩාර් නම්බි |
| (iv) ආලුවෙඩ්ය පිල්ලෙයාර් තිරුවන්දාදි | D - ඒරම්භ උපනිෂද් |
| (v) ගාණාපත්තියම් | E - තිරුඥානසම්බන්තර් |

(1) B A C E D (2) B A E C D (3) C A B E D (4) C A E B D (5) E A B C D

13.

| අ | ආ |
|---|---|
| (i) ඉරුමෙවාදම් | A - කබිලර් |
| (ii) පුරුඩන් | B - සාංගියම් |
| (iii) සාංගිය සූත්‍රම් | C - පිරකිරුදි |
| (iv) කෝවලම් | D - පෝක්තා |
| (v) කරුත්තා | E - තනිව සිටීම |

(1) B D A E C (2) B E A D C (3) C B A D E (4) C B D A E (5) C D B A E

14.

| අ | ආ |
|---|---|
| (i) ආචුවෙඩයාර් | A - විත්තෙ |
| (ii) අඳුරු | B - ලිංගායදර් |
| (iii) ලිංගය | C - සංක්ෂිප්තකරණය |
| (iv) වීර ශෛවර් | D - ශිව භක්තික කණ්ඩායම |
| (v) සංගමම් | E - ශක්ති |

(1) A D B E C (2) A E D C B (3) B C D E A (4) D A E C B (5) E A C B D

15.

| අ | ආ |
|---|---|
| (i) අනුරාධපුර යුගය | A - ආරුමුග නාවලර් |
| (ii) පොළොන්නරුව යුගය | B - සම්බන්තර් |
| (iii) යාපනය රාජ්‍ය යුගය | C - චතුර්වේදී මංගලම් |
| (iv) ලන්දේසි යුගය | D - තිරුකරසෛ පුරාණම් |
| (v) ඉංග්‍රීසි යුගය | E - පරාලෛ විනායගර් පල්ලු |

(1) B C A D E (2) B C D E A (3) C B E A D (4) D A B C E (5) E C D A B

- අංක **16** සිට **30** තෙක් එක් එක් ප්‍රශ්නයට අදාළව දී ඇති පිළිතුරු අතුරෙන් වඩාත් සුදුසු පිළිතුර තෝරන්න.

**16.** "පල්කලෙල ආගම වේදම් යාවෙයිනුම් කරුත්තු පදි පසු පාසම් තෙරිදල්" යනුවෙන් සඳහන් කරන සිද්ධාන්ත ශාස්ත්‍ර ග්‍රන්ථය වන්නේ,
(1) තිරුවරුට් පයන් ය. (2) ශිවප්පිරකාසම් ය. (3) ශිවඥානපෝදම් ය.
(4) ඉරුබා ඉරුබන්දු ය. (5) උන්මෛම විලක්කම් ය.

**17.** නඩරාජර් මූර්තයේ සඩාමුඩි මගින් කුමක් සංකේතවත් වන්නේ ද?
(1) වඩා සුන්දරත්වය (2) ඥානය (3) දිශාව
(4) උසස් හැකියාව (5) බලය

**18.** කන්නගි දෙවියන් වෙනුවෙන් ක්‍රි.ව. 2වන ශතවර්ෂයේ දී උත්සව කරනු ලැබුවේ
(1) ගජබාහු රජතුමා විසිනි. (2) කෝවලන් විසිනි.
(3) මාරවර්මන් විසිනි. (4) පාණ්ඩිය රජතුමා විසිනි.
(5) සේරන් සෙංගුට්ටුවන් විසිනි.

**19.** "නූන් මුරෙර තෙරින්දු සීලත්තු ඔලුගු" යනුවෙන් සඳහන් කළේ,
(1) ඖවෙයාර් ය. (2) තිරුවල්ලුවර් ය. (3) තිරුමූලර් ය.
(4) භාරතියාර් ය. (5) කුමරගුරුබරර් ය.

**20.** මාණ්ඩූක්‍ය කාරිගෙ මගින් ප්‍රකාශිත දාර්ශනික මතය වන්නේ,
(1) විසිට්ටාත්වෙදම් ය. (2) අත්වෛදම් ය. (3) ශෛව සිද්ධාන්තම් ය.
(4) සාංගියම් ය. (5) තුවෛදම් ය.

**21.** ගණපති දෙවියන්ගේ උපත පිළිබඳව සඳහන් කරනු ලබන්නේ,
(1) ගරුඩ පුරාණම් හි ය. (2) මුක්කල පුරාණම් හි ය. (3) පවිෂ්‍ය පුරාණම් හි ය.
(4) බ්‍රහ්ම පුරාණම් හි ය. (5) අක්නේය පුරාණම් හි ය.

**22.** 'පිතාමහ න්‍යාය' යනු
(1) ධර්ම න්‍යායක් ය. (2) දේව න්‍යායක් ය.
(3) තාරකා විද්‍යා න්‍යායක් ය. (4) පුරුඩාර්ත්ත න්‍යායක් ය.
(5) ප්‍රපංචයේ බිහිවීම පිළිබඳ න්‍යායක් ය.

**23.** 'තීවිනෛ විට්ටීට්ටල් පොරුල්' යනු,
(1) දන්දෙමින් ධනය උපයා ගැනීම වේ.
(2) යහපත් මාර්ගයෙන් ධනය උපයා ගැනීම වේ.
(3) අයහපත් ක්‍රියාවන් තුලින් ධනය එකතු කිරීම වේ.
(4) උපයාගැනීම අයහපත් ක්‍රියා මත රඳා පැවතීම වේ.
(5) සදාචාරාත්මකව අයහපත් ක්‍රියා නොමැතිව ධනය උපයා ගැනීම වේ.

**24.** සාංගියම් සහ යෝගම් අතර ප්‍රධානතම වෙනස වන්නේ,
(1) ඊශ්වර දර්ශනය පිළිගැනීමයි.
(2) කෛවල්‍ය තත්ත්වය ප්‍රකාශ කිරීමයි.
(3) පිරකිරුදි මුල්කොට අවධාරණය කිරීමයි.
(4) පිරකිරුදි පරිණාමය පිළිගැනීමයි.
(5) සැප භුක්ති විඳින දෙයක් සේ පුරුඩන් පැවතීමයි.

**25.** තමාට වඩා අන් අය නුසුදුසුයි යනුවෙන් සිතන අවස්ථාවේ ආණවම් හි ගති ලක්ෂණය,
(1) විගට්පම් වේ. (2) මෝගම් වේ. (3) කට්පම් වේ.
(4) අඥර් වේ. (5) ක්‍රොදම් වේ.

**26.** වෛෂ්ණව සම්ප්‍රදායේ පෙම්වතා-පෙම්වතිය අතර සම්බන්ධය
(1) තාශ්‍යභාවම් වේ. (2) මදුරභාවම් වේ. (3) සගියභාවම් වේ.
(4) කාන්දභාවම් වේ. (5) වාත්සල්‍යය භාවම් වේ.

**27.** චෝල යුගයේ තංජාවූර් හි සුන්දරචෝල සිහි කිරීම පිණිස රෝහලක් ඉදි කරනු ලැබුවේ,
(1) රාජරාජ විසිනි. (2) කරිකාල විසිනි. (3) කුන්දවෛ විසිනි.
(4) රාජේන්ද්‍ර විසිනි. (5) දෙවන කුලෝත්තුංග විසිනි.

**28.** පංජ යක්ඥ තුල අඩංගු වන්නේ,
(1) පිදිර් යක්ඥම්, දේව යක්ඥම් සහ බ්‍රහ්ම යක්ඥම් ය.
(2) පිදිර් යක්ඥම්, මානුෂ යක්ඥම් සහ ශිව යක්ඥම් ය.
(3) පූද යක්ඥම්, වේල්වි යක්ඥම් සහ ඥාන යක්ඥම් ය.
(4) බ්‍රහ්ම යක්ඥම්, පිදිර් යක්ඥම් සහ ඉල්ලර යක්ඥම් ය.
(5) පිදිර් යක්ඥම්, ඉල්ලර යක්ඥම් සහ දේව යක්ඥම් ය.

**29.** හින්දු භක්තිකයන් විසින් සමරනු ලබන උත්සව පමණක් ඇතුළත් කාණ්ඩය තෝරන්න.
(1) තෛපොංගල්, කන්දශෂ්ටි, දීපාවලි
(2) කන්දශෂ්ටි, තිරුක්කාර්තිගෛ, නවරාත්‍රි
(3) බෝහි උත්සවය, තිරුක්කාර්තිගෛ, දීපාවලි
(4) දීපාවලි, සිත්තිරෛ අළුත් අවුරුද්ද, තෛපොංගල්
(5) දීපාවලි, මාර්ගලි තිරුවාදිරෛ, සිත්තිරෛ අළුත් අවුරුද්ද

**30.** පල්ලව යුගයේ මූර්ති කලාව හා සම්බන්ධ කාණ්ඩය තෝරන්න.
(1) ධර්මරාජ රථම්, පිඩාරි රථම්, සිත්තන්නවාසල්
(2) කාංචි කෛලාසනාථ දේවාලය, සිත්තන්න වාසල්, එල්ලෝරා
(3) ධර්මරාජ රථම්, පිඩාරි රථම්, මාමල්ලපුරම් වෙරළ දේවාලය
(4) ධර්මරාජ රථම්, කාංචි කෛලාසනාථ දේවාලය, සිත්තන්නවාසල්
(5) කාංචි කෛලාසනාථ දේවාලය, මාමල්ලපුරම් වෙරළ දේවාලය, එල්ලෝරා

● අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නයට අදාළව කිසියම් මාතෘකාවක් යටතේ කරුණු පහ බැගින් දී ඇත. ඒවායින් දී ඇති මාතෘකාවට **නොගැළපෙන** ප්‍රකාශය තෝරන්න.

**31.** **රාමායණය**
(1) වෛෂ්ණව ආගම හා සම්බන්ධය.
(2) කාණ්ඩම් හතකින් සමන්විතය.
(3) මානුෂ ධර්මය අවධාරණය කරයි.
(4) රාම දේව ස්වරූපයක් ලෙස පවසයි.
(5) තුලසිදාසර් විසින් දෙමළ භාෂාවෙන් රචනා කරන ලදී.

**32.** **වන්දනාවේ වෙදකම**
(1) වන්දනා කරමින් දේවාලය වටේ ඇවිදීම
(2) තෝප්පුකරණම් (තෝර්ප්පික්කරණම්) දැමීම
(3) පංචාංග සහ අෂ්ටාංග නමස්කාරවල යෙදීම
(4) දේවාල උද්‍යානයේ ඖෂධ පැල සිටුවීම
(5) පල්ලව රජවරුන් විසින් වෛද්‍යවරුන්ට සහනාධාර ලබාදීම

**33.** **හින්දු ආගම**
(1) පුළුල් අරමුණු සහිත ය.
(2) පැරණිතම ආගමකි.
(3) තනි පුද්ගලයෙකු විසින් බිහි කරන ලද්දකි.
(4) මිනිසාට යහපත් ජීවිතයක් සඳහා මග පෙන්වයි.
(5) විවිධ වන්දනා ක්‍රම සහිත ය.

**34.** **ඉන්දු නිම්නයේ ශෛව ආගම**
(1) නළඟන රුව නඩරාජර් රුව හා සමාන ය.
(2) මොල්ලිය සහිත ගව රුව නන්දිව සිහි කරයි.
(3) සොයාගත් කේතු ආකාර ගල් ශිවලිංග රුව සිහි කරයි.
(4) දරුවකු බිහිකරන කාන්තා රුව අර්ධනාරී හැඩය සිහි කරයි.
(5) යෝගී සහ ඔහු වටේ සිටින සතුන් සහිත රුව පසුපති රුව සිහි කරයි.

**35. තෛපොංගල් උත්සවය**
(1) සූර්යයා මකර රාශියේ සිට ධනු රාශියට මාරුවන දවසයි.
(2) අලුත් මුට්ටියට අළුත් හාල් දමා පොංගල් සාදයි.
(3) සූර්යය දෙවියන්ට ස්තුතිය පුද කරන දවසයි.
(4) සෑම නිවසකම මිදුලේ සමරනු ලබයි.
(5) අස්වැන්න නෙළන උත්සව දවසයි.

● පහත A සිට J දක්වා දී ඇති වචන අතුරෙන් දෙකක් විශේෂ කරුණක් මත එකිනෙක අතර සම්බන්ධතාවක් දක්වයි. එම සම්බන්ධතාව පදනම් කරගෙන, අංක **36** සිට **40** තෙක් එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර ඇතුළත් වරණය තෝරන්න.

| A | B | C | D | E |
|---|---|---|---|---|
| තිරුප්පුහල් | නමසිවාය තේසිකර් | කාංගේයන් පිළිමය | වන්නෛ වෛත්තීශ්වරම් | සුන්දරනාගමම් |
| **F** | **G** | **H** | **I** | **J** |
| පරාලෛ විනායගර් දේවාලය | තිරුමූලර් | තිරුකෛලාය පරම්පරාව | මදංග චූලාමනි | කල්වලෛ අන්තාදි |

**36.** නගුලේශ්වරම් දේවාලය හා සම්බන්ධ යුගලය කුමක් ද?
(1) A B (2) A C (3) B C (4) B G (5) B H

**37.** තිරුවාවඩුතුරෛ ආදීනම් හා සම්බන්ධ යුගලය කුමක් ද?
(1) A I (2) A J (3) B H (4) B I (5) B J

**38.** ලන්දේසි යුගයේ පැවති හින්දු ආගම හා සම්බන්ධ යුගලය කුමක් ද?
(1) B F (2) D I (3) E J (4) F I (5) F J

**39.** තිරුමන්දිරම් හා සම්බන්ධ යුගලය කුමක් ද?
(1) B D (2) D I (3) E G (4) F G (5) F I

**40.** ස්වාමි විපුලානන්දර් හා සම්බන්ධ යුගලය කුමක් ද?
(1) A B (2) D I (3) E G (4) E I (5) F G

● අංක **41** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට අදාළව මාතෘකාවක් යටතේ කරුණු පහක් දී ඇත. ඒවායින් මාතෘකාවට වඩාත් සුදුසු ප්‍රකාශය තෝරන්න.

**41. සංකර වේදාන්තයේ වැදගත් සිද්ධාන්තය**
(1) මායාව මගින් ලෝකය බිහිවේ.
(2) ජීවාත්මා එකිනෙකට බැඳී පවතී.
(3) සත්‍ය වන්නේ බ්‍රහ්ම පමණි.
(4) ඊශ්වර මැවීමේ දෙවියන් ය.
(5) විමුක්තියට මාර්ගය ඥානයයි.

**42. සේයෝන් මේය මෙවරෛ උලහමුම්**
(1) සංග සාහිත්‍යවල මුරුග දෙවියන් ප්‍රසංසා කරනු ලැබුවේය.
(2) මුරුගන්, කොට්ට්‍රවෛගේ පුතණුවන් ලෙස කියනු ලබයි.
(3) මුරුග දෙවියන් සේයෝන් යනුවෙන් හඳුන්වනු ලබයි.
(4) පැරණි තමිල්නාඩුවේ මුරුගන් වැදගත් දෙවියකු වේ.
(5) මුරුග දෙවියන් කඳු සහ කඳු ආශ්‍රිත (කුරිංජි) ප්‍රදේශයට අයත් දෙවියකු ලෙස වන්දනා කරනු ලැබුවේය.

**43. දේවාල පිළිවෙත්**
(1) ආගමංගල් ආශ්‍රිත කරගෙන ඇත.
(2) ආත්මාර්ත්තම් සහ පරාර්තම් යනුවෙන් වර්ග දෙකකි.
(3) දේව රූප පදනම් කරගෙන ඇත.
(4) සියලු ජනතාවගේ ආත්ම විමුක්තිය වෙනුවෙන් කරනු ලබයි.
(5) කර්ශනම්, පිරදිශ්ටෛ, උත්සවම් සහ ප්‍රායච්චිත්තම් යනුවෙන් ප්‍රභේද හතරකින් යුක්තය.

**44. විශිට්ටාත්වෛදම්**

(1) එකිනෙක වෙන් කළ නොහැකි බව පවසයි.
(2) විශේඩන, විශේඩියංගල් හා සම්බන්ධයි.
(3) ඊශ්වර පරිණාමවාදය පිළිගනී.
(4) ශරීර ශරීරි සම්බන්ධය සහිතයි.
(5) මුප්පරිමාණංගල් පිළිගනී.

**45. නගුලේශ්වරම්**

(1) පැරණිතම ශිව දේවාලවලින් එකකි.
(2) 'තිරුතම්බේශ්වරම්' යනුවෙන් හඳුන්වනු ලබයි.
(3) ශ්‍රී ලංකාවේ උතුරේ කීරිමලේ හි පිහිටා ඇත.
(4) ආඩි අමාවක දින පිදිර්කඩන් (මලවුන් දානය) දෙනු ලබන ශුද්ධ වූ ස්ථානයකි.
(5) නගුල මුනිවර් තාපසයේ යෙදීමෙන් මුගටි මූණ ඉවත් කරගත් දේවාලය යි.

**46. ශ්‍රීලශ්‍රී ආරුමුග නාවලර් තුමන්ගේ සමාජ මෙහෙවර**

(1) ශබ්දකෝෂ එළි දැක්වීම
(2) දේශන පැවැත්වීම
(3) ශෛව දූෂණ පරිගාර ප්‍රකාශන එළි දැක්වීම
(4) 'කංජීතොට්ටි' දන්සල් දීම
(5) විද්‍යානුබාලන යන්ත්‍රශාලා පිහිටුවීම

**47. භක්ති යෝගය**

(1) භගවත්ගීතාවේ පැහැදිලි කරනු ලබයි.
(2) ත්‍රෛවාර්ගික යෝගවලින් එකකි.
(3) භක්ති සහ ප්‍රභක්ති යනුවෙන් ප්‍රභේද දෙකකින් යුක්තය.
(4) ආදරය තුළින් දෙවියන්ට ළඟා වීම.
(5) දෙවියන්ට සේවය කරන්නන්ගේ භක්තිකයන් වීම.

**48. හින්දු විද්‍යාත්මක සාම්ප්‍රදායේ සුශ්රුදර්**

(1) තන්වන්දිරිගේ ශෝලයෙකු වේ.
(2) සුශ්රුද සම්හිදෛ හි කතෘවරයා වේ.
(3) ශෛල්‍යකර්ම ක්‍රමයේ පියා වේ.
(4) ආයුර්වේද වෙදකමේ පුරෝගාමියා වේ.
(5) මානසික වෙදකම පිළිබඳ සිතූ අයෙකි.

**49. ශ්‍රී ලංකාවේ ජේ‍යාතිෂ්‍යය කලාවේ ඉතිහාසය**

(1) පංචාංග ක්‍රමය හා සම්බන්ධයි.
(2) ආර්ය චක්‍රවර්තීන් විසින් වැඩි දියුණු කරනු ලැබීය.
(3) කේරළ ජ්‍යෝතිෂ්‍යය කලාවේ ආභාසයට ලක්වූවකි.
(4) සරසෝදි මාලෛ ග්‍රන්ථය පාදක කර ගත්තකි.
(5) මහජනයාගේ සුභ සහ අසුභ ක්‍රියා හා සම්බන්ධයි.

**50. හින්දු ආගමේ සදාචාර ධර්මය**

(1) ඉදිහාසංගල් සදාචාරය අවධාරණය කරයි.
(2) ධර්ම ශාස්ත්‍රවල යුගධර්ම පිළිබඳව සඳහන් කර ඇත.
(3) භගවත්ගීතාවේ සඳහන් වන ආකාරයට පවරන ලද කාර්යන් කිරීම ධර්මය වේ.
(4) වර්ණ දෙවියන්ට වේද ගීතිකාවල ධර්මයේ දෙවියන් ලෙස ප්‍රශංසා ලැබී ඇත.
(5) සමාජයේ පිළිවෙළ රැකගැනීමටත් නියාමනය කිරීමටත් ගොඩනගන ලදී.

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021(2022)

හින්දු ධර්මය II
இந்து சமயம் II
Hinduism II

42 S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**උපදෙස් :**
※ **I** කොටසින් ප්‍රශ්න **දෙකක්** ද, **II** කොටසින් ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

## I කොටස

**1.** (අ) 'වේදම්' යන්නෙහි තේරුම ලියන්න. (ලකුණු 2යි)
(ආ) වේදම්හි කොටස් කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 4යි)
(ඉ) වේදම් මගින් පිළිබිඹු වන දාර්ශනික අදහස් කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 6යි)
(ඊ) වේද යුගයේ සමාජ තත්ත්වය පිළිබඳව පැහැදිලි කරන්න. (ලකුණු 8යි)

**2.** (අ) පොළොන්නරු යුගයේ හින්දු ආගමික වර්ධනය සඳහා දායක වූ රජවරු **දෙදෙනෙකුගේ** නම් සඳහන් කරන්න. (ලකුණු 2යි)
(ආ) පොළොන්නරු යුගයට අයත් ශිව දේවාල **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 4යි)
(ඉ) පොළොන්නරු යුගයට අයත් ලෝකඩ පොසිල පිළිබඳව කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 6යි)
(ඊ) පොළොන්නරු යුගයේ ශෛව ආගම වර්ධනය වූ ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 8යි)

**3.** (අ) 'පණ්ඩිගෛ' යන්නෙහි තේරුම කුමක් ද? (ලකුණු 2යි)
(ආ) සිත්තිරෙ අලුත් අවුරුද්දේ සිදු කෙරෙන චාරිත්‍ර **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 4යි)
(ඉ) තෛපොංගල් උත්සවය සමරනු ලබන ක්‍රමය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 6යි)
(ඊ) මෙලොව උසස් ජීවිතයක් ගතකිරීම සඳහා පණ්ඩිගෛගල් මගපෙන්වන අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 8යි)

## II කොටස

**4.** පහත සඳහන් මාතෘකා ඇසුරෙන් මත්තුවර්ගේ තුවෛද වේදාන්ත මතය පැහැදිලි කරන්න.
(අ) තුවෛදම් - වචනය පැහැදිලි කිරීම (ලකුණු 2යි)
(ආ) ඊස්වරන් (ලකුණු 6යි)
(ඉ) සීවන් (ලකුණු 6යි)
(ඊ) විමුක්තිය සහ එයට මාර්ග (ලකුණු 6යි)

[දෙවැනි පිටුව බලන්න.

**5.** හින්දු ආගමික ඉතිහාසයේ 'ආගමංගල්' හි වැදගත්කම පහත සඳහන් ඒවා ඇසුරෙන් පැහැදිලි කරන්න.

(අ) 'ආගමම්' යන්නෙහි තේරුම (ලකුණු 3යි)

(ආ) ආගමම් හි සඳහන් වන දේවාල නිර්මාණ ක්‍රම (ලකුණු 4යි)

(ඉ) ආගමම් හි සඳහන් වන දේවාල පිළිවෙත් (ලකුණු 5යි)

(ඊ) හින්දු සංස්කෘතිය තුළ ආගමංගල් (ලකුණු 8යි)

**6.** ශෛව සිද්ධාන්ත දර්ශනය පදනම් කරගනිමින් පහත සඳහන් ඒවා පැහැදිලි කරන්න.

(අ) ආත්මයේ පැවැත්ම

(ආ) ආත්මයේ ගති ලක්ෂණ

(ඉ) ශෛව නාට්පාදංගල්

(ඊ) විමුක්තිය (ලකුණු $5 \times 4 = 20$යි)

**7.** පහත සඳහන් ඒවාට හින්දු ආධ්‍යාත්මික සම්ප්‍රදායේ හිමි ස්ථානය පැහැදිලි කරන්න.

(අ) පුරුඩාර්ත්තංගල්

(ආ) ආච්චිරම ධර්මංගල් (ලකුණු $10 \times 2 = 20$යි)

**8.** පහත දැක්වෙන හින්දු කලාව හා සම්බන්ධ අංගයන් හි විශේෂතා පැහැදිලි කරන්න.

(අ) පන්නිසෙ

(ආ) පිළිම කලාව (ලකුණු $10 \times 2 = 20$යි)

* * *